### සොහොන් ලිපිල්ල.

මිහිකත තුරුල්ලේ තම හිස තබාග ත
සිරියස නොහඳුනන සගයෙක් මෙහි නිද න
සාදරණ සතර ඔහු දිළිඳු කුල ගැ න
නොසිපී තම සතුසි සන්කල දුම න

සිතුද්‍රගම්ණෙක සරි දුනි මහදු න
දෙවියෝ ඔහුට ඒ සා මහ තෑගි දු න
දියහැකි සියල-කඳුලක්-දුගිනට දුන් න
තිළිණ දෙවි මිතුරුවී මනදෙළ පිරු න

වැඩිදුර නොසොයනු ගෙළිකරනුව මොහු ගේ
කුසල් නොදුනකල අකුසල් එකවා ගේ
පතමින් වෙව්ලුමින් වනතෙක් විබා ගේ
හද මැඳුරේ වෙසෙති දෙවිපිය තුමා ගේ

---

# The Present State of the Sangha.

## වර්තමාන සඞ්ඝරත්නයේ සවභාව.

සඞ්ඝරත්නය යනු සකලලෝක ශ්‍රීම්ඞකරවූ සර්වඥයන් වහන්සේවිසින් දේශනාකරවදාළ සපර්‍යාප්තික නවලෝකො ත්තර ශ්‍රීසද්ධර්මානුගතව සුපිළිපන් ශ්‍රාවක පරම්පරාවේ. එය මේකාලයෙහි අතීත සඞ්ඝරත්නය වර්තමාන සඞ්ඝරත්න යයි දෙකක්කොට සලකනුලැබේ. එහි අතීත සඞ්ඝරත්න යවශයෙන් පෙරවිසූ ප්‍රතිසංවිද ප්‍රාප්ත මහරහතුන් පමන් ලඞ්කාශාසන ශ්‍රී භාරෝද්වහනයකල මාහිමිවරයන් සලකති. ස්වදෙශීය රාජවිපර්‍යාසාදීන් රාජරාජ මහාමාත්‍යාදීන්ගේ ශාසනාභිවෘද්ධිදායී ක්‍රියාවන් පිළිබඳ උපකාර දිය නැතුවයාමෙන්ද, ඒ හේතුවෙන් සඞ්ඝරත්නය පිළිබඳ ප්‍රතිපත්‍යාදීන් පූරණයද දුෂ්කරභාවයට පත්වූයෙන් ක්‍රම යෙන් සිහිපැවිදි උතුමන්ගේ ශ්‍රද්ධාප්‍රඥාදී ගුණධර්මපරිහානිය සිදුවීයයි සලකමු. ශ්‍රද්ධාප්‍රඥාදිගුණධර්ම පරිහානියෙන්ම වර්ත මාන සඞ්ඝරත්නය ගැණ ලෙව්හි සැලකීම ඉතාඅඩුවීතිබෙනු

පෙණේ. අපේ සඞ්ඝරත්නයේ ගෞරවය ආරක්ෂාවනලෙස
ක්‍රියාකිරීමේ ශක්තිය ප්‍රභූ බෞද්ධයන් හා නායකානුනාය
කාදී ප්‍රභූ භික්ෂූන්වහන්සේද පිළිබඳව පවතී. එහෙත් එබඳු
ශක්තියකින් යුක්ත යුක්තව ක්‍රියාකරන උතුමෝ අපරට
ඉතාවිරලව දක්නාලැබෙති. මෙසේවීමෙන් වර්තමාන සඞ්ඝ
රත්නය කෙරෙහි ප්‍රසාද ජනනය කරවීමේ ශක්තිය අතී
ශය හීනවපවත්නා බව කිවහැකිවේ. අපේ බෞද්ධසමය
සහ නිරවද්‍යධර්මශාස්ත්‍රාදීයද මේතාක්ම ආරක්ෂාකර වදාරන
උත්තමයෝනම් සඞ්ඝරත්නයේ භික්ෂුහුමවෙති. සඞ්ඝරත්න
යේ ශාස්ත්‍රාගම ශාසන මමාරක්ෂණය යථාකාලයෙහි ඇති
නොවූයේනම් අද ශාසනයත් ආගමත් ජාතියත් පිරිහී අව
සානය. මෙසේ ලෝකශාසනාභිවෘද්ධිය පිණිස අත්‍යාවශ්‍ය
කව පැවති සංඝරත්නය පිළිබඳ දැනුදු ප්‍රතිසංස්කරණ
යක් කරවීමට තරම් කාලයක්වතිබීම හාස්‍යය සංවේග
ජනකව පවතීමය. අප ගෘහස්ථ ප්‍රභූවරයෝ සඞ්ඝරත්නය
ගැනසාපේක්ෂකව ක්‍රියාකරත්නම් සඞ්ඝරත්නය පිළිබඳ
ගෞරව යථාවිධීන් යළිදු ඇතිකරලියහැකිවේයයි සිතමු.
බෞද්ධ මහරජවරුන් හා සඞ්ඝරත්නයේ පැවති අන්‍යොන්‍ය
සම්බන්ධතාවයෙන් ශාසනය යම්සේ දියුණුවූයේද එසේම
ඒදෙපක්ෂයේ අන්‍යොන්‍ය සම්බන්ධ විරහයෙන් පිරිහීමින්
වන්නේයයි සැලකියහැකිවේ. පෙර මහරජවරු ස්වකීය
රාජ්‍යයේ නානාවිධ කෘත්‍යභාරය තමාකෙරෙහිම පැවරී
ඇතත් දවසට දෙවරක් වෙහෙරට පැමිණ බුදුන් දහම්
සඟුන්වැඳ සඞ්ඝයාගේ ආසුවිහරණාදීන් විචාරමින් සොය
මින් බලමින් ස්ථානපාලනය ප්‍රත්‍යය සන්තර්පණාදීන් භික්ෂූ
න්ගේ ශාසනිකක්‍රියා කරගැනීමට එහෙයින් සඞ්ඝගෞර
වය ආරක්ෂාවීමටත් අතිශයාධාර කරමින් ලෝකශාසනාභි
වෘද්ධි වර්ධනයෙහි යෙදී සැදී විසූහ. එහෙයින්ම දුශ්ශීලපාපි
ශ්‍රමණ ප්‍රතිරූපීන්ගේ ලාමක ක්‍රියාවලින් හෝ වෙනයම්
හේතුවකින් හෝ සඞ්ඝරත්නයේ තත්වය කිසිවෙක් පාත්වශ
යෙන් නොසැලකුවේය. නමුත් වර්තමාන අපේ සඞ්ඝරත්නය
පොළවටතිකාර හොරමැරයන් ගුරුවරයෙකු නැතිව
තමතමන් පැවිදිවීමෙන්ද ආගමේ නියමිතපරිදි, නාතිදීර්ඝ
නාති හ්‍රස්ව නාති කෘෂ්ණතාදී දෝෂයන්ගෙන් විනිර්මුක්ත
වූ යහපත් කුලදරුවන් මනා පරීක්ෂණයෙන් තුන්වසක්

පමණ මහා ආශ්‍රයෙන් මහාසේ සුවචවූ ශික්ෂාකාමී වූවෙක්ද නැත්දැයි කිසිසේත් නොසොයා ස්වකීය පිරිස්බලය කවර කාලකණ්ණී පිරිසකින් නමුත් ස්ථිරවුවොත් ඇතැයි සැල කීමෙන් නොමනා අය පැවිදිකිරීමෙන්ද ගිහින්විසින් කළ යුතු ප්‍රත්‍යාදී සියලු සත්කාරවිධින් ඒ ඒ භික්ෂූන්ටම කරගැන්ට ඉඩහැර මන්දෝත්සාහීවූ දායකපිරිස් ඇතිවීමෙන්ද ඒ දායකවරු සංඝරත්නය පිළිබඳ සාදරගෞරවයක් නූපදවා ඉතා පහත්කොටසක් වශයෙන් නොසැලකීමෙන් ශ්‍රමණ ප්‍රතිරූපීන්ගේ අධර්මක්‍රියා හේතුවෙන්ද ප්‍රතිපත්ති ශාසනය ලිහිල්කොට සැලකීමෙන්ද ගෘහස්ථයන් ආගම ශාස්ත්‍රඥත විධිනොපායඥත ධර්මශ්‍රවණාදියෙහි නොයෙදීමෙන්ද යනාදී නොයෙක් කරුණුවලින් අපේ සංඝරත්නය ක්‍රමයෙන් පහත්බවට ගමන්කරනුදක්ම සංවේග ජනකමය.

ඉංග්‍රීසි ආදී භාෂාන්තරඥානයෙන් යුක්තවූ ඇතැම් නීතිඥ වෛද්‍ය ශාස්ත්‍රඥාචාර්‍යාදීන් අහංකාර පරවශවූ අඥාන මනුෂ්‍යයෝ ආගමනම් නූගතුන්ට පමණක් ප්‍රයෝජනය අපවැන්නන්ට ආගමක් නැත සංඝරත්නාශ්‍රයෙන් වෙසෙසක්මුත් වැඩක් නැත්තේයයි කියමින් සිතමින් තමන් උසස්බවත් සඟරුවන පහත්බවත් ප්‍රකාශකිරීමෙන් නූගතුන්ගේ ශාසනාලයත් හීනකරවීමත් අපේ සංඝයාවහන්සේගේ වර්තමාන තත්වයට අතිශයාධාරව පවතීයයි කීම මැනවැයි සිතමු. මේආදී කරුණුවලින් සලකාබලනකල අපේ සඟරුවන මහා තැනකට පමුණුවාලීමෙන් ශාසන ස්ථිතිය පිණිස ක්‍රියාකරවීම් අපගරුතර මහා නායකානුනායකාදී මාහිමිවරයන්හා ප්‍රඥාබෝධයන්ගේත් අන්‍යොන්‍ය සම්බන්ධතාවයෙන්ම ආරම්භකිරීම කාලොචිතයයි සලකමු. බෞද්ධාරක්ෂක සභාවආදී බෞද්ධසමිති මගින් පණ්ඩිත ස්ථවිරයන්වහන්සේලාගේ අනුශාසනාපරිදි ශාසනාභිවෘද්ධිය පිණිස ක්‍රියාරම්භකරනු ලැබේනම් යලිත් අප වර්තමාන සංඝරත්නය තත්වය ගෞරවස්ථානයට පත්වේයයි විශ්වාසකරම්හ.

N. H. SIRISOMA.

College Form.

# HEAT.

## උෂ්ණය.

සූර්යාලෝකය වැටෙන ස්ථානයක හෝ ගිනි උදුනක් ලඟ හෝ සිටියහොත් අපට උෂ්ණය දැනගන්ට ලැබේ. මෙබඳු උෂ්ණය අපට

1. සූර්යයාගෙන්ද,
2. රසායන ක්‍රමයන්ගෙන්ද,
3. යන්ත්‍ර ක්‍රමයෙන්ද,
4. විදුලි බලයෙන්ද,
5. පෘථිවි ගර්භයෙන්ද,
6. ද්‍රව්‍යයන්ගේ ස්වභාවවිපර්යාසක්‍රමයෙන්ද,

ලබාගන්ට පුලුවනවේ.

සූර්යාගෙන් ලැබෙන්නාවූ රශ්මිය අනිකුත් සියලුම රශ්මින්ට වඩා අපට ප්‍රයොජනවත්වේ. සියලුම වෘක්ෂ ලතාදිය සූර්යරශ්මිය හේතුකොටගෙණ වැඩේ. එහෙයින් සූර්යරශ්මිය ආහාරයන් සපයාදෑණීමට අපට අත්‍යනොපකාරීවේ. සුලඟ, වඩදිය, බාදිය හා වර්ෂාව සූර්ය රශ්මිය කාරණකොටගෙන සිදුවෙත්.

රසායන ක්‍රමයන්ගේ පිළිවෙලට උෂ්ණය ලබන්ට අපට පිලිවන් වන්නේ අඞ්ගාර වායුව (Carbon) අම්ලකර වායුව (Oxygen) හා මිශ්‍ර කිරීමෙනි. ඊටත් වඩා බලඇති උෂ්ණයක් අම්ලකර වායුව, ජලකර වායුව (Hydrogen) හා මිශ්‍ර කෙරීමෙන් ලබාගන්ට පුලුවන. අපේ ශරීරය තුල තිබෙන්නාවූ උෂ්ණත්වය අම්ලකර වායුව ආහාරයන් හා මිශ්‍රවීමෙන් සෑදෙන එකකි.

යන්ත්‍රක්‍රමයෙන් ලබන්නාවූ උෂ්ණය ඝර්ෂණයෙන් (molecular friction) සෑදේ. එක් ලී කැබෙල්ලෙක්හි සාදනලද සිදුරක අනිකක් බහා කරකැවීමෙන් ගින්නක් හටගන්නබව බොහෝදෙන දන්නාවූ කාරණයකි. ගිනිපෙට්ටි සාදන්ට ප්‍රථම මිනිසුන් ගිනි ලබාගත්තේ "අග්නි පාෂාණ" නම් ගල් එකට ගැසීමෙනි,

මෙපරිද්දෙන් බොහෝ ද්‍රව්‍යයන් එකිනෙකෙහි ගැටීමෙන් උෂ්ණය ඇතිකරවිය හැකිය.

විදුලිබලය ස්වභාවෙන්ම උෂ්ණ දායකයි. විදුලි රථයෙන් ගමන්කරන්නෝ බොහෝවිට විදුලි කම්බි සවිකරණලද ස්ථානයන්ට තුදුරුව සිදගැනීමෙන් ඒ උෂ්ණය විදගනිත්. එහි බලය වැඩිවූනත්හි ඔව්හු පීඩාද ලබත්.

පෘථිවි ගර්භයේ තිබෙන්නාවූ උෂ්ණය හේතුකොට ගෙන ගිනිකඳු හා උණුදිය උල්පත්ද හැදෙත්.

හිම කැබෙල්ලක් දියවීමට උෂ්ණය උවමනාවේ. එමෙන්ම ජලය හිමට පෙරළීමෙහුත් උෂ්ණය ලබාගත හැක්වේ. ජලය සෑදී තිබෙන්නාවූ ක්‍ෂුද්‍ර ද්‍රව්‍යයන්ගේ බලය (atoms) ඝන ද්‍රව්‍ය සෑදී තිබෙන්නාවූ ක්‍ෂුද්‍ර ද්‍රව්‍යයන්ගේ බලයට වැඩිවෙ. යම්කිසි අන්දමකින් ජලය සෑදී තිබෙන්නාවූ මේ ද්‍රව්‍යයන්ගේ බලය අඩුකරණලද්දේ නම් ජලය හිමට පෙරළේ තේවතුර කෝප්පයකට දමනලද සීනි දියවීමට තේවතුර එක් ප්‍රමාණයකට උණුසුම්ව තිබිය යුතුයි. ඒ තේවතුර යම්කිසි අන්දමකින් ඒසි ප්‍රමාණයට උණුසුම් නැතහොත් සීනි දියනොවේ

මෙආදී නොයෙක්ප්‍රකාරයෙන් ලැබෙන්නාවූ උෂ්ණය ද්‍රව්‍යයන්ට ඇතුල් කෙරීමෙන් එම ද්‍රව්‍යයන්ගේ

1. ප්‍රමාණය වෙනස්වීමද
2. අභ්‍යන්තර බලය වෙනස්වීමද
3. ඝන ද්‍රව්‍ය දියාරුවීම් ආදී ලක්‍ෂණවෙනස් වීමද
4. ශීතොෂ්ණ භාවය වෙනස්වීමද

යනාදී අනේකවිධ පරිවර්තනයෝ සිදුවෙත්.

උෂ්ණය ඇතුල් කරණලබන ද්‍රව්‍යයන්ගෙන් වැඩි කොටසක් අයම් එතරින් වෘධවේ. දුම්රිය මාර්ගයේ සවිකරණලද යකඩ පීලි අතරේ ස්වල්ප අවකාශයක් තබා තිබෙන්නේ මේ වෘධිය සලකාගෙනයි. යමෙක්කරත්ත රෝදයකට පට්ටමක් සවිකරන කල්හි එය ගින්නේ ලා රත්කර රෝදයට බුරුලෙන් සවිකරයි. මෙය මෙසේ සලකැක්කේත් යථොක්ත වෘධිය හා එය නැතිකිරීමෙන් වන්නාවූ ඌනතියද හෙතුකොටගෙනයි. මෙය



THE MEMBERS OF THE SINHALESE LITERARY UNION 1920.

රිද්දෙන්ම සමුද්‍රයේ දියවැල සෑදීමටද (ocean currents) චණ්ඩ මාරුතාදී අනෙකවිධ සුලං සෑදීමටද උෂ්ණය හේතුභූතවේ.

යටකී කරුණු සිදුවන්නේ ද්‍රව්‍යයන්ගේ අභ්‍යන්තර ධාතුන්ගේ (constituents) පැතිරීමද හැකිලීමද හේතු කොටගෙනයි. කරත්ත රෝදයේ පට්ටම සිසිල් කරන වාත් සමගම එහි ඇත්තාවූ අභ්‍යන්තර ධාතුහු හැකිලෙත්. එයින් පට්ටම කුඩාවීම කරණකොටගෙන රෝදය හාත් පසම සවිවයෙන් සිටගනී. යම් ගොඩනැඟිල්ලක බිත්ති යක් ඇලවුනොත් යකඩ කූරක එක් කොනක් බිත්තියේ ඇලය ඇති පැත්තට සවිකොට අනිත් කොන බිත්තිය සමග අනිත් පැත්තේ සිටුවනලද ඉතා සවි ඇති යකඩ කනුවකට ඉස්කුරුප්පු පෙත්තකින් සවිකරණුලැබේ. ඊට පසු යකඩකූර රත්කරනු ලැබේ. පළමු දක්වූ පරිද්දෙන් උෂ්ණය ලැබීමෙන් ද්‍රව්‍යයන්ගේ පැතිරීම ඇතිවෙන බැවින් යකඩකූර සවල්පයක් දික්වේ. එකල ඉස්කුරුප්පු පෙත්ත කරකැවීමෙන් වැඩිවූ හරිය පිටපැත්තට ගනුලැබේ. මෙයින් බිත්තිය කෙලින් සිටී.

ද්‍රව්‍යයෝ වනාහි ඝනරූප, ද්‍රවරූප, වායු රූපයයි (solid, liquid, & gaseous states of matter) තුන් ආකාරයකට බෙදෙත්. ඝන ද්‍රව්‍යයක් ද්‍රව රූපයකට පෙරළීමට එක් ප්‍රමාණයක උෂ්ණය උවමනාවේ. හිම කැබෙල්ලකට උෂ්ණය ඇතුලත්කලොත් එය ජලයට හැරේ. මෙසේ ලබනලද ජලය තවදුරටත් උණුකිරීමෙන් වායුවට පෙරළිය හැක්වේ (will vapourise). මෙයින් පෙන්වන්නේ උෂ්ණය හේතුකොටගෙන ඝන ද්‍රව්‍යයක් පළමුකොට ද්‍රව රූපයටද ඉන්පසු වායු රූපයටද පෙරළියහැකිබවයි.

ශීත ජලය ඇති භාජනයකට අතලුවහොත් එය සිසිල් බව අපට හැගේ. ඒ ජලයට උෂ්ණය ඇතුලත්කලොත් එය උණුසුම්වේ. මෙසේ ලබන්නාවූ උෂ්ණයට ස්වභාවික ශාස්ත්‍රයෙහි ශීතොෂ්ණයයි (specific Heat) කියනුලැබේ. රත්කරනලද යකඩ කූරක් ජලයෙන් යුත් භාජනයක ලූවහොත් යකඩය සිසිල්බවද ජලය උණුසුම්බවද අපට දැනෙත්,

එය එසේවන්නේ යකඩයෙහි තිබුනාවූ උෂ්ණය ජලයට පැමිණීමෙනි. එකල්හි යකඩයෙහි තිබෙන ශීතොෂ්ණ භාවය අඩුවීමද ජලයෙහි ශීතොෂ්ණය වැඩිවීමද වේ.

H. A. SILVA
*Matric. Form.*

---

# Religious Instruction in Schools.

## පාඨශාලාවන්හි ආගම ඉගැන්වීම.

---

දැනට ලක්දිව ඉංග්‍රීස් සිංහල දෙමළ පාඨශාලා දහස් ගණනක් ඇතත් ආගම ධර්මය උගන්වන්නාවූ පාසැල් ඉතා විරලවෙති. ශිල්ප ශාස්ත්‍රයන්හි කෙතරම් දැනීමක් ඇතත් යම්කිසි ලබ්ධියක නොපිහිටියේ නම් ඒ තැනැත්තා වන යෙහි ගමන්කරණ අන්ධ හස්තියෙකු මෙනි. මන්ද? අන්ධ හස්තියා වනයෙහි ගමන්කරනනේ ඇල දොළ ආදීයෙහි වැටීමෙන් හා රුක්මුල් ආදියෙහි සැපීමෙන් බොහෝ පීඩා විඳියි. එමෙන් ශාස්ත්‍රඥතයෙන් යුක්තවූ මනුෂ්‍යයා පවා මොහාන්ධකාරය හෙතුකොටගෙන ක්‍රියා නමැති මාර්ගයෙහි යහපත් අන්දමින් ගමන්කරන්ට අපොහොසත්ය. තිරිසන් ගත සත්වයා සහ මනුෂ්‍යයා අතරත් තිබෙන එකම වෙනස නම් මනුෂ්‍යයා නුවණින් ක්‍රියාකිරීමයි. එබැවින් එය ශිල්ප ශාස්ත්‍ර බලයකින්ම නොකලහැකිය. ඊට අවශ්‍යයෙන්ම වූව මනා එකම මාර්ගය නම් ධර්මමාර්ගයයි. ආගමකෙරෙහි විශ්වා සයක් නොමැති තැනැත්තා භය ලජ්ජා දෙකින් විරහිත කෙනෙක් වියහැකිය.

කරන කලට පව් මිරිය මී සේ
වි දින කලට දුක් දැඩිවිය ගිනි සේ
ඇදින එපව් දුරලනු උප දේ සේ
නු දුන මැනවි තුන් දොර අව කා සේ

යනුවෙන් කරණ කලට මීපැනිමෙන් මිහිරිවූ, විඳින කල්හි ගිනිමෙන් දහ ඇති, පාපකර්මයන්ගේ උත්පත්ති ස්ථානය වන කායවාක්මන යන තුන්දොර අගුල් දැමීමට තිබෙන එකම යතුර නම් ආගම ධර්ම ඉගැන්වීමයි. එබැ වින් සියලුම මවපියවරු තම දරුවන්ට ආගමධර්මය ඉගැන්

වීමට තරමේම සිත තබාගතයුතුයි දැනට ලක්දිව වැඩිවශයෙන් ජීවිකාවෘත්තිය කරගැණීම පිණිස සවකීය භාෂාව පවා ඉගෙණනොගෙණ ඉංග්‍රීසි ඉගෙණීම පිණිස ආගම යන අකුරු තුන පැත්තකින් තබා බෞද්ධ කුලදරුවන් ක්‍රිස්තියානි පාඨශාලාවන්හිද මහමත් භක්තිකයන් බෞද්ධ ශාස්ත්‍රශාලාවන්හිද ඉගෙණීමට යොදවත්. ක්‍රිස්තියානි පාඨශාලාවල ශිෂ්‍ය සංඛ්‍යාව වැඩිවශයෙන් බෞද්ධ භක්තිකයන්ගෙන් යුක්තවූවද ක්‍රිස්තියානිය විනා බෞද්ධාගම කෙසේ ඉගැන්වියහැකිද? එමෙන්ම බෞද්ධ පාඨශාලාවන්හි බුද්ධ ධර්මය විනා අන්කිසි මිථ්‍යාආගමක් ඉගැන්විය නොහැකිය. මීට කටයුතුව තිබෙන එකම ක්‍රියාව නම්, ඒ ඒ ලබ්ධි ඇත්තවුන් ඒ ඒ පාසැල්වලට යැවීමයි.

ආගම යන්නෙහි සංක්ෂෙප තේරුම නම් පැමිණීමයි. කුමකට පැමිණීමදයත්, සත්‍යයට පැමිණීමයි. අසත්‍යයක් විනම් ඊට දුක්විපාක ඇතිබව කියනුම කවරේද? තම ආගම කෙරෙහි ඇල්මක් නොමැති අය ආත්ම ගෞරවය කෙරෙහි ඇල්මක් නොමැතිවෙත්. මන්ද? තම ජීවිතය නිසිමග ගමන්කරවන්නේ ආගමයි, ආගම දායාදයක්මෙන් තම් දරුවන්ට නොදියයුතුයි. එසේනමුත් ළදරු අවස්ථාවෙහි ඔවුන්ට සතුටු ආගමක් වැළඳගැනීමට ඉඩහැර තැබීම හාත්පසින් වැරදි ක්‍රියාවකි. මන්ද? එසේ කිරීම නිතුවක්කාර වීමට ප්‍රධාන මාර්ගයයි. එමනිසා තමතමන්ගේ විශ්වාසය පිට පවත්නා යම්කිසි ආගමක් ඇතිනම් එය තම දරුවන්ට පුරුදු පුහුණු කිරීම තමන්ට අයිති ක්‍රියාවකි. දෙවනුව ඔවුන්ගේ විශ්වාසය වෙනස්කරගන්ට වුවමනානම් එසේ කිරීම ඔවුන්ට භාරවූ ක්‍රියාවකි.

"නීචාඃ කලහමිච්ඡන්ති ධර්මමිච්ඡන්ති පණ්ඩිතාඃ" යනු ආප්තොපදෙශයි මෙහි අදහස ගුණධර්මවලින් අඩුඅය කොලාහල කැමැතිවෙති. පණ්ඩිතයෝ ධර්මය කැමැතිවෙති. එය එසේවීමට හෙතුව නම් මලේ සුවඳ දන්නේ බඹරාය කීවාක්මෙන් ඉගෙණීමෙන් තැන්පත්වූ නැනැත්තා ලෞකයෙහි සත්‍යාසත්‍ය සෙවීමෙහි පොහොසත්වෙයි, අනිකෙක් අපොහොසත්වෙයි.

දැනට ලෝකයේ පැතිරීගෙනයන බොහෝ දුශ්චරිතයන්ගේ මුල් හෙතුව ආගම ධර්මය නොදැනීමයි, මන්ද?

ශාස්ත්‍රඥානයකින් අභ්‍යන්තරයෙහි සංවරභාවයක් ඇති කරදේයයි කිසිසේත් නොසිතියහැකිය. ඊට කාරණයනම්, ඥානවන්ත පණ්ඩිත මනුෂ්‍යයන්පවා ඇතැම්විට අතිශයින්ම දුශ්චරිතයෙහි ගැලී තිරිසනුන්මෙන් ක්‍රියාකරණබව පෙණේ. ආගම ධර්ම්‍ය උගත් තැනැත්තා ශාන්ත ගතිඇති, මෛත්‍රී සහගත චෙතනාවෙන් යුක්ත, සාධාරණ කල්පනා ඇති සත්පුරුෂයෙක් වීම ස්වභාවකි. එමනිසා ආගම ධර්මය ඉගෙණීම උචිතනාබවට මෙය කදිම සත්‍යයෙකි. තවද වෙන අන් ඉගෙණීම් ආදියකින් නොලැබියහැකි උත්තම සැපයක් ආගම ධර්මය ඉගෙණීමෙන් ලබන්ව උලුවන්වන බැවින් කුඩා කාලයේ පටන්ම මෙය අවශ්‍යයෙන්ම ඉගැන් වියයුතුයි.

පාඨශාලා ක්‍රමයකින් ආගමික තත්වය තිසියාකාර උගන්වාලිය නොහැකිය. මක්නිසාද? ආගමක් නම් සලු කාලයකින් ඉගෙණගත නොහැකි ධර්මකොඨාශ රාශිය කින් යුක්තවූ එකකි. එමනිසා මේ ක්‍රමයෙන් ඊට කටයුතුව තිබෙන එකම ක්‍රියාව නම් එබන්දක් නොමැතිව ඉගෙණී මෙන් පිඥුකර ගැනීමට මාර්ගය පාදදීමයි. එසේ කිරී මෙන් එහි ඇති රසය දැනගත් තැනැත්තා දියුණුකරගැනී මට පයත්නකිරීම කියනුම කවරේද? මෙසේ කිරීමට සුදුසු ප්‍රසථාවනම් ලදරු අවසථාවයි.

ඊට කදිම ආපෙතාපදෙශයක් නම් මෙසේය

යනානවෙ භාජනෙ ලග්නඃ සංසකාරො නාන්‍යථා භවෙත් යනුවෙන් පිලිස්සීමට මත්තෙන් මැටි කලයෙහි මල්වැල් ආදි යමක් ඉරවූ ආදි යමකින් සූරා කැටයම්කරණ ලද්දේද එය කලය පුලුස්සා අවසානවූ කල්හිත් නොමැ කෙන්නාක්මෙන් ලදරු අවසථාවෙහි යහපත්වූ හෝ අයහ පත්වූ හෝ යමක් පුරුදුවූනිනම් එය වෘධ අවසථාවෙහි නොමැකී පවතීය යනු එහි සංක්‍ෂෙප අදහසයි.

ඇතැම් අය ධර්මය ඉගෙණීමට හා පිළිපැදීමටත් මහළු අවසථාව පැමිණෙනතුරු බලාසිටිති. මෙය සිනහවට කරු ණකි. මක්නිසාද? සත්වයන්ගේ මරණය කාලසීමාරහිත බැවිනි. තවද, තරුණ අවසථාවෙහි ශරීරබලයද ඥානශක් තියද තිබියදී නොකලහැකි ආගමානුකූල කටයුතු වය සින් දිරාගියකල්හි කෙසේ කරණු හැක්කේද? නොහැක් කේමැයි. එබැවින් ධර්මයෙහි හැසිරීම අප්‍රමාදව කලයුතුයි.

T. J. C. PEIRIS.
*College Form.*

# Hail ! Alma Mater.

## ආනන්ද අභිනන්දන.

---

මුළුලොව දනමනන න්ද, කරවන සව්සිරියෙ න්ද,
සිරිලක කිතුදද බැ න්ද, අගපෙදෙ සේ
අන් සත්සැල් අතුරෙ න්ද, **සත්සැල ඒ ආන න්ද.**
අගතැන් සුපිහිටියෙ න්ද, තිසි විල සේ
පෙරපර බස් දනුමෙ න්ද, මිහිබට සුරගුරුමෙ න්ද,
ගුණදම් නිති රැකුමෙ න්ද, සියපණ සේ
සිරිලක දන මනකු න්ද, පොබයනු සිසිඅඳුරි න්ද,
එ ඇඳුරු මැති හැමසන්ද, දින සැප සේ

කිතුගොසපැතිරීමෙ න්ද, සිසුකැලබිහුපත්න න්ද,
සිප්මුවරද ලැබුමෙන්ද, සිතුසැපි යේ
විකුමෙන ජයකොඩි බැන්ද, අවිදුන්ගේ එඩි බි න්ද,
මිසදිටුගනඳුරු සින්ද, ලනතුටි යේ
පරබස් ගැන මන බැ න්ද, සගගන පැමිණීමෙන්ද,
ඒ බස් ඉගෙනීමෙන්ද, මන අපි යේ
මේ ඇ නොක ගුණයෙන්ද, ලක සෙන සැලසීමෙන්ද,
**සත්සැල ඒ ආනන්ද**, රටවපි යේ

අප සිය දූ පෙර කා ල, සිරිත් සිහල බූපා ල,
වැඩුමට යලි සිතූ අල, මිතු සුද නා
සියබස දනුමට ලෝ ල, කව්තළ ඉතිහාසා ල,
වඩන සිසුන්තුල බාල, නිසිලෙසි නා
සියරටවෙන හැමකා ල, සග බුදුසමයට ආල,
වැඩුමෙන් නිති ගිහිසීළ, රැකි බැති නා
කීමට සත්ගල ලීල, ගෙතුවෙ මෙකව් මල්මාල,
තුටින විසින ගුණපාල, කිව්බසි නා

E. W. G.

# As Others See Us

## අපේ විද්‍යාලය ගැණ අන්‍යයන්ගේ අදහස්.

**මෙහි පහත දක්වන වාක්‍ය සිංහල ප්‍රවෘත්ති පත්‍ර කීපයක තිබුණ කතෘවාක්‍යවලින් උපුටාගන්නාලදි.**

1920 ජූලි 20 දින දිනමිණ පත්‍රයේ මෙසේ කියාතිබේ.

ලංකාධරණීතලයෙහි අද පවත්නා ඉතා විශාල විද්‍යාලය මෙයයේ. ලාංකිකයන්ගේම මූලිකත්වය හා ආචාර්‍ය්‍යත්වය ඇතුව පවත්වනු ලබන මහා ශාස්ත්‍රශාලාවත් මෙයමැයි. ස්වදේශීන්ගේම ප්‍රධානත්වයෙන් ඔවුන් විසිනම පාලනයකරනු ලබන විද්‍යාලයක් කෙතරම් දුරට සඵල වන්නේදැයි දකීමට බොහෝ දෙනා ආශාවෙන් සිටිති. එබැවින් ආනන්ද ශාස්ත්‍ර ශාලාවේ දියුණුව ලාංකිකයාගේ ගෞරවය සංරක්ෂණවීමටද කාරණයක් වෙයි......ශිෂ්‍යයන් ඉතා ස්වල්ප දෙනෙකු ඇතුව ආරම්භකල ආනන්ද ශාස්ත්‍ර ශාලාවෙහි අදදවසේ ශිෂ්‍යයෝ දහසක් ඉගෙනීම ලබත්. මහා ප්‍රතිපත්ති ඇතුව අවංකාධ්‍යාශයෙන් ආරම්භකරන වැඩ සාර්ථක භාවයට පැමිණෙන අයුරු බැලිය යුතුයි. ආනන්ද ශාස්ත්‍රශාලාව පිළිබඳ ගතවර්ෂයේ වාර්තාව අතිශය තුෂ්ටිජනක ප්‍රවෘත්තිවලින් සංයුක්තව තිබේ............... ආනන්දශාස්ත්‍රශාලාව පාලනයකරගනයන ප්‍රශස්ත ලීලාව වර්ෂයක්පාසා ප්‍රසිද්ධවන වාර්තාවලින් මොනවට හැඟේ. එහිශිෂ්‍ය සංඛ්‍යාව මෙන්ම ආචාර්‍ය්‍ය පංක්තියද දිනෙන්දින දියුණුවන බව පෙනේ ශාස්ත්‍රශාලාවේ ප්‍රධාන මහතා විසින් එහි ආචාර්‍ය්‍යවරයන්ගේ වැටුප් වැඩිකිරීමේ යෝග්‍යතාව පෙන්නුම්කරන ලද්දේය. ගුරු වැටුප් වැඩිකිරීමේ ප්‍රශ්නය ආණ්ඩුව විසිනුද මහජනයා විසිනුත් තදින් කල්පනාකරගන යන මේ කාලයෙහි ශාස්ත්‍රශාලාධිපතීන්ගේ අදහස් මෙසේ පහල කිරීමද ප්‍රයෝජනවත් කොට සලකම්හ. ආනන්ද ශාස්ත්‍රශාලාව විශාලකිරීම සඳහා උවමනාකරන ගොඩනැගිලි තැනීම සඳහා

උවමනාකර තිබෙන මුදල සම්පූර්ණ කරගැනීමටත් එහි අභිවෘද්ධියට උපකාරවූ අන්‍ය කර්තව්‍ය සඵලකර ගැනීමට ලාංකික බෞද්ධ ජනයා ආධාර දියයුතුබව මෙයින් ප්‍රකාශ කර සිටිම්හ.

1920 ජුලයි 21 වෙනි දින ලක්මිණ පත්‍රයේ මෙසේ කියාතිබේ.

අද ලාංකීය බෞද්ධ මහජනතාවගේ ශ්‍රේෂ්ඨ ඉංග්‍රීසි මහා විද්‍යාලයවූ මෙම උසස් ශාස්ත්‍රශාලාව වූකලි ශාස්ත්‍රාචාර්ය ඩී. බී. ජයතිලක මහතාගේ ආචාර්යත්වය පැවති කාලයේ පටන් දිනෙන්දින දියුණු ස්වභාවයට පත්වූවාය. එසේවීමට අසහාය හේතුව ජයතිලක මහතා ආගමේ හා ජාතියේත් දියුණුව සලකා වැටුප් ගැන කිසිත් නොසලකා දිවා රාත්‍රි දෙක්හි මෙම බෞද්ධ විද්‍යාලයේ අභිවෘද්ධියම සලකා අනලස්ව විහෙසීව උත්සාහවීර්යයෙන් ක්‍රියාකිරීමයයි අපි නොමසුරුව ප්‍රකාශකරම්හ................. මේ උගත් තරුණ පී. ද ඇස්. කුලරත්න මහතාගේ පත්වීමෙන් පසු දිනෙන් දිනම මෙම විද්‍යාලය විස්මයාකාරයෙන් උසස්වූ දියුණුවකට අද පත්ව තිබෙන බැව් දැක්ම විශේෂයෙන්ම බෞද්ධයන්ගේද සාමාන්‍යයෙන් සමස්ත සිංහලයන්ගේද අමන්දානන්දයට උත්කෘෂ්ට හේතුවක්වනු ඒකාන්තමය. කුලරත්න මහතාගේ ප්‍රාරම්භ කාලයේ ශිෂ්‍ය සංඛ්‍යාව ඌනව පැවති නමුත් දැනට දහස (1000)කට අඩුනැති බවත් උපාධි නාමධාරි ආචාර්යවරයන් අටදෙනෙකුගෙන් සමන්විත බවත් දැක්ම ඇත්තෙන්ම කාගේවුවත් ප්‍රමෝදයට හේතුනොවන්නේද? වන්නේමය. කුලරත්න මහතාද පූර්වොක්ත ජයතිලක මහතා මෙන්ම වැටුප් ගැන නොසලකා ආගම සහ ජාතියත් ගැන ඇතිව පවත්නා තහවුරු යහපත් අදහසින් නොපසුබට වීර්යයෙන් ක්‍රියාකිරීම හේතුකොට ගෙනම අද මෙම විද්‍යාලය මෙතරම් උසස් තත්වයක පැවැත්වීම ගැන අපගේ සාදර ස්තුතිය කුලරත්න මහතා විෂයෙහි සතුටින් පිරිනමම්හ. කුලරත්න මහතාගේ මුළු ජීවන කාලයෙන් වැඩි කොටස මෙහි දියුණුව සඳහාම ගතකරන බැව් දැක්ම විස්මයජනකය. කුලරත්න

මහතාගේ වයස දෙස බලනකල එතුමාගේ මේසා
මහත් ක්‍රියාරම්භයේ ප්‍රතිඵල ඊටත් වඩා වයස්ගතව
නුවණැතියන්ට පෙනීයනු නිසැකමය. ශිෂ්‍යයන්ගේ
ඉගනීම අතින්ද හැසිරීම අතින්ද පැමිණීම අතින්ද
මහත් දියුණු ස්වභාවයක් ඇතිවී තිබේයයි පෙරවිද එහි
පැවති ත්‍යාග ප්‍රදානෝත්සවයේදී වැඩ බලන ලංකාණ්ඩු
කාරතුමා විසින්ද ප්‍රකාශකරතිබීමත් බෞද්ධ මහජනතා
වගේ සාතිශය සන්තුෂ්ටියට හෙතුවෙකි. එසේම ජූනියර්
සීනියර් මැට්‍රිකියුලේෂන් ආදී විභාගවලින්ද මෙම
විද්‍යාලයේ ශිෂ්‍යයෝ උසස්ලෙස සාමර්ථ්‍යය ලැබුවෝය.
මෙසින්ද මෙහි ඉගැන්වීමේ උසස් තත්වය කාටත් අව
බෝධ නොවන්නේද, වන්නේමය. මෙහි විශෙෂවශයෙන්
සිංහල භාෂාව උගැන්වීම ගැනත් එයින් ලැබිතිබෙන
ප්‍රතිඵල ගැනත් සලකා බලනවිට විශෙෂයෙන්ම මෙහි
ප්‍රධානාචාර්‍යතුමාට සියලු සිංහලයන් විසින්ම අකුටිලාධ්‍යාශ
යෙන්ම පැසසියයුතු බැව් කියම්හ. දැනට ශිෂ්‍යයන්ගේ
ඵාසු විහරණය සඳහා උවමනා කරන ගොඩ
නැඟිලි සඳහා රුපියල් 150000 ක් පමණ ඕනෑවතිබෙතත්.
ඊට ශිෂ්‍යයන්ගෙන් ලැබෙන මුදල් ගුරුවැටුප් ගෙවීමට
ප්‍රමාණය වනහෙයින් මීට වියදම්කරන්ට ගියහොත්
ගුරුවැටුප් ආදියට බාධා පැමිණෙන්ට බැරිනැත. එබැ
වින් ඒ සඳහා ලඞකාණ්ඩුකාරතුමා කීවාක්මෙන්ම් බෞද්ධ
මහජනතාවට ආයාචනාකිරීම යුතුබැව් අපිදු සිතපිණිස
කියම්හ. මෙම ශාස්ත්‍රශාලාවේ ශිෂ්‍යසඞ්ඛ්‍යාවේ ප්‍රමාණයට
ඉඩපාඩු මදබැව් කාටත් පෙණෙන කාරණයකි. එබැවින්
ලඞකා බෞද්ධයන්ට මහත් ආඩම්බරයක්ව පවත්නා මෙම
විද්‍යාලයේ දියුණුව ප්‍රාර්ථනාකරමින් මෙයිට අඩුපාඩුව
පවත්නා ගොඩනැගිලි ආදිය ගොඩනංවාගැණීමට සියල්
ලන් විසින්ම සාතිශය සන්තොෂයෙන් ධන ප්‍රදානය කළ
යුතු කාලය පැමිණතිබෙනබැව දැනුම්දෙනඅතරම එසේම
සැවුරුත් ඊට එකඟහෙලා ප්‍රමොද සිතින් ඊට ආධාරොප
කාර කරතැයි අපි සතුටින් බලාපොරොත්තුවම්හ. මෙම
විද්‍යාලය හෙතුකොටගෙණ මතු පරම්පරාව උගත් ශීලා
චාර සාධුගුණසම්පන්න ජාත්‍යාභිමානිලාෂී කොටසක්
වෙතැයි අපි සතුටින් බලාපොරොත්තුවම්හ,

## 1920 ජූලි මස 23 වෙනි දින සඳරැස පත්‍රයේ මෙසේ කියාතිබේ.

මේ (පී. ද ඇස්. කුලරත්න) ශාස්ත්‍රාචාර්‍ය්‍යතුමා විද්‍යාලයේ කාර්‍ය්‍ය පාලනය භාරගෙන ගතවූ දෑවුරුදු සමයෙය තුල මෙහි ඇතිවූ ආශ්චර්‍ය්‍යමත් අභිවෘද්ධිය වර්ණනා විෂයාතික්‍රාන්ත බව පෙණේ. දැනට විද්‍යාලයේ ශිෂ්‍ය සංඛ්‍යාව දහසක් බව වාර්තාවෙන් පෙණේයයි. එහෙත් මේ ශිෂ්‍යසමූහයාට නිසිසේ ඉගැන්වීමාදිය පිණිස සෑහෙන ප්‍රමාණ ගොඩනැගිලි නැතිවීම අභිවෘද්ධියට බාධාවක්බව ප්‍රධානාචාර්‍ය්‍ය තුමාගේ වාර්තාවෙන් ප්‍රකාශ වෙයි. ශාස්ත්‍රශාලාවේ ශිෂ්‍යයන්ට ක්‍රීඩා භූමියක් නැතිකමද මහත් පාඩුවකි. (තොබෝද ශ්‍රීමත් ග්‍රීම් තොම්සන් මහ ලේකම්තුමන් විසින් හරිශ්චන්ද්‍ර කියවීම් ශාලාවේ මුල්ගල තබන අවස්ථාවේදී අපශාස්ත්‍ර ශාලාවට ක්‍රීඩාභූමියක් නැතිමට බිම් අක්කර සතරක් දෙන්ට ආණ්ඩුව සූදානම් බව ප්‍රකාශකරනලදී. මුඩුබිමක්වූ මෙය පිළියෙළකිරීමට රුපියල්......................පමණ උවමනා බැවි මතක්කරමු, ආනන්ද සගරා කර්තෘ)......................මෙහි ශිෂ්‍යසංඛ්‍යාව ආශ්චර්‍ය්‍යමත් ලෙසින්ම වර්ධනයවන බැවින් සුදුසු ගොඩනැගිලි සපයා ගැණීම සඳහා බෞද්ධයන් උපකාර කටයුතුයි.

ලාංකික බෞද්ධයන්ගේ ප්‍රයොජනය සඳහා ප්‍රධාන නගරයේ පිහිටි බෞද්ධ විද්‍යාලය සියලු අංගයෙන් පරිපූර්ණ කරගැණීම අවශ්‍ය කාරණයකි. ඒ සඳහා විද්‍යාලයේ ආදි ශිෂ්‍ය මහතුන් විශෙෂයෙන්ද ලාංකික බෞද්ධයන් සාමාන්‍ය වශයෙන්ද උත්සාහවන්තව ක්‍රියාකටයුතුයි,

දැනට විද්‍යාලය අධ්‍යාපන පක්ෂයෙන් මෙන්ම ශිෂ්‍ය සංඛ්‍යාවෙන්ද ලංකාවේ කිසිම ශාස්ත්‍රශාලාවකට දෙවෙනි නොවන බැවින් මෙහි අන්‍ය අඩුපාඩු අප්‍රමාදව සම්පූර්ණ කරගැණීමට බෞද්ධයන් සහභාගීවියයුතුයි......................
අපේ ධනවත් බෞද්ධයන් මේ කාරණයෙහිදී පිටුනොපා ක්‍රියාකිරීමට සතුටුවෙතු නිසැකයි. මේ විද්‍යාලය යම් විටක

පරිහාණි පක්ෂය භජනය කලොත් ලංකාවේ විසිපන්ලක්ෂයකට අධික බෞද්ධ මහජනයාගේ වටිනාකම එදට ප්‍රකාශවනු නියතයි ශාස්ත්‍රාචාර්ය කුලරත්න මහත්මයාගේ නොපසුබට උත්සාහය විද්‍යාලයේ ආශ්චර්‍ය්‍යමත් දියුණුවට හේතුවනු නියතයි. බෞද්ධයන් ස්වකීය දරුවන්ගේ ධර්මවිද්‍යාවර්ධනයට ශක්ති පමණින් ආධාර කටයුතුයි. පොහොසත් බෞද්ධයන් තමන් සතු ධනයෙන් සෑහෙන කොටසක් මේ සඳහා පරිත්‍යාග කරන්නට උනන්දුවිය යුතුයි. මෙය මහානිශංසදායක උතුම් ක්‍රියාවක් මෙන්ම ලෝකාර්ථදායී උත්කෘෂ්ට ක්‍රියාවක් බවද සලකා ගතයුතුයි.

මේ මහා ශාස්ත්‍රශාලාවේ ආචාර්ය මණ්ඩලය අතිශයින්ම කාර්යක්ෂම භාවයෙන් ශ්‍රේෂ්ඨ ශාස්ත්‍රඥයන් ගෙන්ම යුක්ත බැව් ප්‍රකට කාරණයකි. ආචාර්ය පිරිසම ගණනින් හැටදෙනෙකි. විද්‍යාලයේ කණිෂ්ඨ පන්ති වෙන්කොට විශේෂ පාඨශාලාවක් මෙන් පැවැත්වීමට කරණලද යෝජනාව වටිනා එකකි. එයින් ශ්‍රේෂ්ඨ පන්තිවල දියුණුවට අවහිර නැතිව ක්‍රියාකිරීමට අවකාශ තිබේ. වණික් කර්ම ඉගැන්වීම සඳහා මේ ශාස්ත්‍රශාලාවේ පිහිටුවා තිබෙන පන්ති ගැණ විශේෂයෙන් ප්‍රසන්න භාවයට පත්වූ ආණ්ඩුකාරතුමා ඒ සම්බන්ධව වැදගත් කරුණු රාශියක් ප්‍රකාශකෙළේය. මේ උසස් ශාස්ත්‍රශාලාවේ සිංහල භාෂා ශාස්ත්‍ර සහිතව බුද්ධධර්මය ඉගැන්වීමත් බාල දක්ෂ සමූහය ඇතිවීමත් ශිෂ්‍යයන්ගේ ගුණධර්ම වර්ධනයට මහෝපකාර බැවින් මෙහි ඉගෙනීම ලබන ශිෂ්‍යයන්ට ශිල්පශාස්ත්‍ර ඥානයෙන් මෙන්ම සුචරිත වර්ධනයෙන්ද උසස්විය හැකිබව කියයුතුනොවේ.

# Gratitude.

## කෘතඥභාවය.

(මෙම සඟරාවට සිංහලෙන් ලියනලද ඉතා හොඳ වාක්‍යයම ආදිශිෂ්‍යයකුවිසින් දෙනලද ත්‍යාගය ලැබීමට සුදුසුයයි විනිශ්චයකරණලදි)

"කතඤ්ඤූකතවෙදී පුග්ගලො දුල්ලභො ලොකස්මිං"

කෙලෙහිගුණ සලකන පුද්ගලයාතෙම ලෝකයෙහි දුර්ලභයයි අපගේ ශාස්තෘවූ ලෝවිතුරා බුදුරජානන් වහන්සේ වදාලසේක. ලෝකවාසි ශිෂ්ට සම්මත මනුෂ්‍යයන් තුල පවත්නා ගුණධර්ම සියල්ලෙන් කෘතඥගුණය ඉතා උතුම්කොට සියළු පඬිවරුන් විසින් පසස්නාලදී. එබැවින් සියළුදෙනා විසින් මේ ගුණධර්මය උතුම්කොට සලකා එහි නිරතවීමට උත්සාහ දැරිය යුතුයි.

කෘතඥභාවය නම් සත්පුරුෂවූ හෝ නුවූ හිතමිත්‍රවූ හෝ නුවූ නෑයෙක් වන්නාවූ හෝ නොවන්නාවූ යම් කිසිවෙකු විසින් කල උපකාරය සිත්හි ධාරණය කරගැනීමයි. තමහට කල උපකාරයට අනුව ප්‍රත්‍යුපකාරකිරීම කෙලෙහි ගුණ සැලකීමයි. උපකාරයට උපකාර කිරීම විනා අනුපකාර කිරීම සත්පුරුෂ ගුණධර්මයක් නොවේ. යමෙකුහට මව්පියාදීන්විසින්කල උපකාරය සිත්හි නොතිබේනම්හේ කිසි දරුවෙක් නොවේ. එසේම ගුරුවර බන්ධුමිත්‍රාදීන් විසින් කරනලද උපකාරය සිත්හි නොතිබේනම් ඔහු නිරන්තරයෙන්ම පිළිකුල්කටයුත්තෙක් වන්නේය.

කෘතෝපකාර නොදන්නා ගුණමකු අසත්පුරුෂයාහට ශිල්පශාස්ත්‍ර ඉගැන්වීමෙන් හෝ කෑම්බීම් වස්ත්‍රාභරණාදියෙන් සංග්‍රහකිරීමෙන් හෝ කොපමණ උපකාර කලත් ඒ කිසිවක් අඵල පිණිස නොවන්නේය. යම්සේ දිනක් පාසා කිරිකල දහසබැගින් වත්කොට වඩනාලද කොසඹරුක මිහිරි රසක් නොදේද එසේම අසත්පුරුෂයාහට කල ගුණ ඵල සහිත නොවේ, හිසින් ජලය වත්කොට වඩනාලද දඹුක් ගස යම්සේ මිහිරි රස නොවේද එමෙනි, නමුත්

අසත්පුරුෂයාහට කරණලද ගුණයෙන් ඇති එකම ඵලය නම් තමාවඩාගත්ගින්න තමාමදැවීමට සමත්වන්නාක්මෙන් ඒ උපකාරයම අනුපකාර පිණිස පැවතීමය. නීචයාහට සෙවත් ගුණයෙන් හීන තැනැත්තාහට කල උපකාරය දියේ ඇඳි ඉරමෙන් වහාම නැසෙන්නේය, අස්ථිරය. එසේ නොව සත්පුරුෂයාහට කල උපකාරය ගලෙහිකෙටූ අකුරක්මෙන් නොනැසී පවත්නේය. එසේම ස්ථිරය. ඉතා වැඩිකොට පැන්බී යානොහැකිව සැමරියන් වලක වැටීහුන් බව දැක ගොඩනගා අභයදුන් පුරුෂයාහට බරණැස් රජ්පුරුවන්ගේ මුක්තාහාරය ගෙනැවිත්දුන් ගිරවාගැනද ගොදුරුගැන්ම සඳහා ගිය කල්හි මඩෙහි එරෙනලදුව ඉන් ගොඩනැඟීමට ආධාරකල ශෘගාලයාට දිවිහිමියෙන් ආහාර ගෙනැවිත් දෙමින් සංග්‍රහකල සිංහ රාජයා ගැනද කල්පනාකර බලනවිට මේ උතුම් ගුණධර්ම තිරිසනුන් අතර පවා පැවතී තිබෙනබව බුදුබණින් පෙණේ. එය මේ වර්තමාන කාලයෙහි පවා ශුනඛ ආදී තිරිසනුන් අතර පවතිනබව කවුරුත් දන්නා සත්‍යයකි. ඉදින් ඉතා නීච තිරිසනුන් අතර පවා මේ යහපත් ගුණධර්මය පවතිනම් එය ඉතාම උතුම් සත්ව කොට්ඨාශය වන මනුෂ්‍යයන් අතර කෙසේ පැවතිය යුතුද යන්න කිවමනා නොවේ.

ඇතැම් අය ගුරුවරුන්ගෙන් ශාස්ත්‍ර ඉගෙන ඒ ගුණය නැතිකරදමා මූසිලයාමෙන් ක්‍රියාකරති. එබඳු පුද්ගලයින්හට මේ ලෝකයේදීම ලැබෙන විපාක ගුත්තිල කාව්‍යයෙන්ම පෙණේ. බෝසත්වූ ගුත්තිල පඬිනු තමන් සමග තරඟ වීණා ගායනාවට පැමිණි මූසිලයාගේ අවගුණ මෙනෙහිකල පරිදි ගුත්තිල කාව්‍යයෙහි මෙසේ දැකවා තිබේ.

"දියෙහි යන දණ්ඩ ට
පිහිටක් වෙතත් පෙර සි ට
දුදනන් හට පිහි ට
නොවේ යන බස සැබෑ කෙළෙ ම ට

කොපමණ ගුණ කල ත්
දුදනෝ නොවෙති යහ ප ත්
කිරිදියෙනි දෙවී ය ත්
අඟුරු සුදුවන කලෙක නම් නැ ත්

දුරුකර කිරි ඔත ජ්
පෙන්විය දුදන ගුණ ගැ ජ්
මොහුට අප දුන් සි ජ්
පෙවූ කිරි වැන්න විසඝොර ස ජ්”

මේ ආදියෙන් ගුණමකු අසත්පුරුෂයින්හට උපකාර කිරීමෙන් ඇති ප්‍රතිඵල පෙණේ. එබැවින් ලොකධර්ම, රාජ ධර්ම, බුධ ධර්ම ආදී සියළු ධර්මයන්ට එකහවූ කෘතඥ ගුණ සැලකීම කවරුත් විසින් කළයුත්තක්බව පෙණේ. එසේම මේ උතුම් ගුණධර්මය සියළු සත්පුරුෂ පුද්ගලයින්හට මහත් පුණ්‍ය රාශියක් සිඬකරගැණීමටද ආධාරවේ. හැංත් මේ වර්තමාන කාලයගැන මෙනෙහිකර බලනවිටද කෘතඥ ගුණ නිසියාකාර මනුෂ්‍යයන් අතර පවතී නම් සියළු අරගල ආදීයද ක්‍රමයෙන් අඩුවෙන්ට පිළිවන.

ලෝකෝපකාරයෙකි.—

යමෙකුකල යහපත-සිහිවනුයෙ ලොව නපුරු නැත
සුහුදන කලනපුර-සිත නොතබනුයෙ යහපතෙක් ඇති.

N. H. de S. Wijesekera,
*Junior Form.*

---

# Things Religious.

## ආගම පිළිබඳ කරුණු.

(ආනන්ද මහා විද්‍යාලයේ ප්‍රධානාචාර්‍ය්‍යතැන්පත් බී. ඒ; බී. ඇස්. සී; ඇල්. ඇල්. බී; උපාධිනාමධාරි ශාස්ත්‍රාචාර්‍ය්‍ය පී. ද ඇස්. කුලරත්නමහත්මයා විසින්ලියනලදී.)

(ශ්‍රී ධර්මශ්‍රී සඟරාවෙන් ගන්නාලදී.)

මා ප්‍රිය සහෝදරය, බෞඩයෙකැයි කියන තමුන්නාන් සේගෙන් ප්‍රශ්න සම්ප්‍රයක් ඇසීමට හා තමුන්නාන්සේට කරුණක් දෙකක් කීමට කැමැත්තෙනම්, මා තමුන්නාන් සේට ප්‍රේම කරණ නිසා මාගේ අදහස් වරදවා තේරුම් නොගන්නාලෙස මතක්කරමි. යමක් හරිහැටි තේරුම් ගැණීමට වඩා එය වරදවා සිතීම පහසුවේ. බෞඩ යෙකැයි කියන තමුන්නාන්සේ එබඳු ශ්‍රේෂ්ඨ නාමයක්

දුරීමට තරම් සුදුසු යමක් ඊට පෙර කිසිකලෙක කෙලේ
හිද? දන් කරන්නෙහිද? බෞද්ධයෙකු විසින් නියතවශ
යෙන් කළයුතු අවශ්‍යදේ කෙලෙමියයිද, කරමියයිද යන
කල්පනාවෙන් අන්‍ය ලොකයාත් තමනුත්නොරවටන්නෙහි
දැයි භාන්තිකමින් සිතාබලනු මැනවි. තමුන්නාන්සේගේත්
මාගේත් ස්වාමිදරුවානන්වූ බුදුරජානන්වහන්සේගේ
අසදෘශවූ ශ්‍රෙෂ්ඨතර ජීවිතයත් උන්වහන්සේ විසින් ලොක
යාට පෙන්වනලද අදර්ශයත්, ප්‍රකාශකරවදාළ ශ්‍රීසද්ධර්මයත්,
ලොකොත්තමයානන්ගේ ක්‍රියාවනුත් අනුව තම ජීවිතය
ගතකරනුවෙනුවට බුද්ධප්‍රතිමා සාදා ඊට පුදපූජා පවත්ව
මින් කාලය ගතනොකෙලෙහිද? නිතර විහාරස්ථානයට
යනබවත් උපොසථ දිනයන්හි සිල් සමාදන්වනබවත්
සුදුසු අවස්ථාවන්හිදී පින්කම්කරණබවත් තමුන්නාන්සේ
කියන්නෙහිය. එපමණකුදු නොවේ, බොහෝ දුර පලාත්
වල වන්දනා පිණිස ගියබවද අසල පිහිටි ඒවාට වඩා
විශාලවූ පන්සලක්ද දාගැබක්ද, බණමඩුවක්ද නොඩ
නැංගවූ බවත් කියයි. මේ ක්‍රියාවන් නොඅනුමානව යහ
පත්බව මමද කියමි, නමුත් තමුන්නාන්සේ මේ දේ
කරණලද්දේ නුනුවනකම නිසා හෝ ආත්මාර්ථයම පෙර
දැරි කරගනබව නම ගැණ ක්ෂමා වුවමැනවි. විහාරස්ථාන
යට ගොස් මල්පහන් පුදා සැදැපැය අවසානවන්නට මත්
තෙන් දහස්වාරයකට වඩා කිලිටිභාවයට පැමිණෙන සිල්
සමාදන්වීමෙන් නිවන්දැකීමට නැත්කිරීම කාට නොහැකි
ක්‍රියාවක් කරන්ට දරණ උත්සාහයක් වන්නේය. ප්‍රථම
යෙන් පොළොව සකසා පිළියෙළකොට රොපණය කිරී
මට පෙර හා එසේ කළ පසුවත් ඉතා ප්‍රවේසමින් ආරක්‍ෂා
කටයුතුවූ පැලෑටියක් එබඳු කිසි විධිවිධානයක් නැතිව
වැඩීමට කරණ ප්‍රයත්නයක් වැනිවේ. තමුන්නාන්සේ ඉතා
කුඩාවූ බීජයක් කැතකුණු මධ්‍යයෙහි වවන්නෙක් වැනිය.
එසේ රොපණයකරණලද බීජය නොවැඩෙන්නාක්
මෙන්ම තමුන්නාන්සේගේ උත්සාහයෙන් සුදුසු ප්‍රතිඵල
නොලැබීම හා ඒ නිසා ජීවිතය කිසිසේත්ම පෙර තිබුනාට
වඩා යහපත් නොවීම පුදුමයට කරුණු නොවෙත්.
සහෝදරයානෙනි, පැලෑටියක් සිටුවීමට පෙර භූමිය පිරි
සිදුකළයුතුබව මතකතබාගනුව, සිල් රකින්ට පෙර තමු

තුල පවත්නා දෘෂ්ඨි ලෝභය හා ආත්මාර්ථකාමීභාවය දන්
දීමෙන් ඉවත්කරගතයුතුබව තරයේ සිහිකලමැනව. සීල
යල ප්‍රථම දෘතය ප්‍රකාශකරණලදබැවින් සීලබීජය රෝප
ණය කිරීමට වුවමනාපරිදි භූමිභාගය සකස්කරගැණීම
හා ඊට නිසි පෝර ආදිය දානයෙන්ම ලබාගතයුතුබවත්
සලකනුව. සීලනැමැති පැලෑටිය වැඩීමට වුවමනා
පොෂණදානයෙන්ම ලබාගතයුතුයි. බුධාගම වනාහි උපො
සථදිනයන්හි හෝ පින්කම් දිනයන්හි පමණක් පිළිපැදිය
යුතු ආගමක් නොවේ. එය සැමදිනයන්හිම භාවිතා
කිරීම පිණිස දෙශනාකරණලද්දකි. ජීවිතයෙහි සැම
මොහොතක් පාසාම බෞධයෙකුමෙන් ක්‍රියාකිරීමට
තරයේ අධිෂ්ඨානකරගතයුතුයි

ආගම ඇදහීම පමණක් නොව ආගම පිළිපැදීමත්
(ආගම් කිරීමත්) අවශ්‍යබැව් සලකනු මැනවි. තමුන්නාන්
සේ පින්කම් කරන්නෙ විශෙෂ දිනයන්හි පමණක්නම්
අන්‍ය දවස්වල කුමක් කරන්නෙහිද? පව්කම්ද? තමුන්නාන්
සේ වන්දනාව පිණිස දුර ගමන් යනවිට ක්ෂුධාවෙන්
මරණාසන්නයට පැමිණ සිටින අසල්වාසියා ගැණ
කල්පනාකෙලෙහිද? නැහැ. පාළුවී තිබෙන පන්සල්
එමට තිබියදී අළුතෙන් පන්සලක් සාදවන්ට අරමුණුකල
විට එයින් ප්‍රයෝජන ගැණීමට මිනිස්සු සිටිත්දැයි සිතා
බැලූවෙහිද? තමුන්නාන්සේගේ පලාතෙහි කුඩා දරු
වනට ඉගෙණීමට සුදුසු යහපත් බෞධපාඨශාලා නැති
බැවින් අන්‍යදෘෂ්ටික පාසැල්වලට යනබව මොහොතකට
වත් කල්පනාකෙලෙහිද? ලක්දිව බෞධයන්ගේ සවපුතු
සළුභාවයට නොපැමිණෙන්නේ වුවමනා තරම් ප්‍රබොධ
යක් හා උන්නතියක් ඔවුන්කෙරෙහි පිහිටා නැතිබැවින්
බව නොදනනෙහිද? නුසුදුසු ප්‍රදෙශයන් අයහපත් දෙශ
ගුණයන් ආශ්‍රිතකොටගෙණ වැඩෙන පැලෑටියෙහි කිසි
ජීවනශක්තියක් හෝ එලුවත්භාවයක් ඇතිනොවේ. එය
ජීවත්වූවත් ඉන් කිසි ප්‍රයෝජනයක් නොමැතිසි.

මිථ්‍යාදෘෂ්ටික පාඨශාලාවන්හි ඇතිවන දරුවන්
ගැණද මෙසේමයි. සමහරවිට මීට වෙනස්වත් කරුණු
සිදුවේ. එවැනිතැන්හිදී අයහපත් ආශ්‍රයට වඩා යහපත්

ආශ්‍රය බලසම්පන්නවූබැව් සිතාගැණීම වේවි. මතුකාල යෙහි ස්ත්‍රීපුරුෂයන්මෙන් ක්‍රියාකරන්ට සිදුවන්නේ දැන් සිටින බාලදරුවන්බව මතකතබාගතමැනවි. තමුන්නාන් සේගේ ක්‍රියාවන් ගැණ යෝනිසෝමනසිකාරයෙන් සිහි කරන්නෙහිද? ඒවා පරීක්‍ෂාවෙන් කල්පනා කරණු. එවිට එය තමාට හැර අන්‍ය කිසිවෙකුට කිසිම යහපතක් පමුණු වන පිණිස නොකරණලද බැවින් ආත්මාර්ථය පෙරදැරි වම කරණලද ඒවාබව හොඳින් වැටහෙනු ඇතනයි. තමුන් නාන්සේ නිර්වාණයට පැමිණීමට පහසු පාරවල් සොයන් නෙහිය. නමුත් එබඳු පහසු පාරවල් කිසිත් නැත. මාර්ගය දීර්ඝවූවත් තමුන්නාන්සේගේ ක්‍රියාවන් නිසා එය වඩාත් දීර්ඝවන්නේය. මේ ක්‍රියාවන්ගෙන් ලබනලද යම් පිණක් ඇද්ද එය අන්‍යයනට කිසි යහපතක් නොකොට ලබා ගැණීමට තැත් කරන්නෙහිය. මල්පහන් පිදීමෙන් හා රකින්ට තරම් සිතෙහි ශක්තිමත්භාවයක් නැතිව සිල් රැකීමෙන් හෝ පින්කම් කිරීමෙන් හා වන්දනාගමන් යාමෙන් ලෝකයාට කිසිත් පිහිටක් නොවේ. ජය ලැබී මට ඔය ක්‍රමයෙන් නුපුළුවන. සීලය රැක්මට නම් දානය පුරුදුකටයුතුයි. පරෝපකාරය කුමක්දැයි තේරුම්ගෙන එසේ පිළිපදිනු. සර්වඥයන්වහන්සේට කාරණ ගෞරවය උන්වහන්සේගේ ආදර්ශය අනුව අන්‍යයන්ගේ යහපත පිණිස ජීවිතය ගතකිරීමයි. දානය වූකලී අමාරුවෙන් පුරුදුකළ හැකි ගුණධර්මයකි. නමුත් සිත පිරිසිදුකරගැනීමට හා සිල්රැකීමට වුවමනා චෛතසික ශක්තියත් එකාග්‍රතාව යත් සමාධියත් ලබාගතහැකිවන්නේ පරෝපකාරයෙන් හා ආත්මපරිත්‍යාගයෙන්බව සැලකුවමැනව.

මාප්‍රිය සහෝදරය, මගේ මේ ලියුමෙහි පළමු වෙනි කොටස මේ සඟරාවේ අගෝස්තු කලාපයෙහි ප්‍රසිද්ධ කරණලදී. මාසිටින පාඨශාලාව පිළිබඳ නොයෙක් කටයුතුවල ව්‍යාවෘතවෙන්ට සිදුවූ නිසා මේ ලිපිය සම්පූර්ණ කිරීමට අවකාශ නොලදිමි. නමුත් මාගේ ඒ ප්‍රමාදවීම නිෂ්ඵලනොවූ බව පෙනේ. මා කියනදේ වරදවා තේරුම් නොගන්නාලෙස මම තමුන්නාන්සේ ගෙන් අයැද සිටියෙමි. එහෙත් එක්තරා උගත් භික්ෂූන්වහන්සේ නමක් එසේ කරතිබෙන බව දකින්ට

තිබේ. මගේ අදහස් සම්බන්ධව තද භාෂාවෙන් ලියන ලද වාක්‍යයක් මීට සතිකීපයකට පෙර සඳරැසෙහි පලවිය. මම වනාහී ශක්ති පමණින් මට අයත් යුතුකම් ඉටුකිරීමෙහි යෙදී සිටින ගිහියෙක්මි. උන්වහන්සේ මවිසින් කරණු ලබනවාට වඩා දුෂ්කරවූ යහපත්කම්මයන්හි නියුක්තවූ ශ්‍රමණයන්වහන්සේනමකි. විහාර සාදවන්ට එපාය, මල්පූජාකරන්ට එපාය, සිල්සමාදන්වෙන්ට එපාය, වන්දනාගමන් යන්ට එපාය යනාදිය මා තමුන්නාන්සේට ප්‍රකාශකළායයි මට උන්වහන්සේ දෝෂාරෝපණය කරතිබේ. එබඳු තීරණයට උන්වහන්සේ කෙසේ පැමිණියාද? මේවා නොකළමනාවම යහපත්දේබව මම නොකීවෙම්ද? නමුත් මේදේ කිරීමෙන් පමණක් විශිෂ්ට ප්‍රයෝජන නොලැබෙනබව මා කිව්බව සත්‍යයකි. තමුන්නාන්සේට හැකිතරම් සිල්සමාදන්වීම ඉතා යහපති.

නමුත් එම සිල් ආරක්ෂාකිරීමටත් වග බලාගතයුතුයි. අද සිල්සමාදන්වී හෙට නැවතත් පළමුතුබූ තරක සිරිත් එකක්වත් අත්නොහැර කරගෙණයාම ප්‍රශංසනීයනොවේ.

මල් පූජාකිරීමත්, විහාර සෑදවීමත්, එමෙන්ම යහපත් ක්‍රියාවෙකි. එසේවූවත් හොඳ ක්‍රියා, සතුටු උපදවන වචන, යහපත් සිතිවිලි නමැති සුවඳමල් හා සුවඳදුම් පූජාකිරීම බුදුරජාණන්වහන්සේගේ ඉතැත්වීම්වලට වඩා එකඟවේ, ආමිසපූජාවට වඩා ප්‍රතිපත්තිපූජාව ශ්‍රේෂ්ඨබව බුඩධම්මයෙහි ප්‍රකාශිතයි.

"යො ච ජිනස්සානු මතෙන යුත්තො
සො හොති අග්ගො ජිනපූජකානං"

යන ගාථාවෙන්ද එය පැහැදිලිවේ. යමෙක් බුඩවචනයට අනුව හැසිරේනම් ඒ අයම බුදුන්ට ශ්‍රේෂ්ඨපූජාව කළානම් වන්නේය යන තේරුමයි. තමුන්නාන්සේට සිතන්ට හැකිතරම් විශාල ස්තූපයක් පමණට යහපත් ක්‍රියාවන් රැස් කරණු, එවිට කිසිම සතුරෙකු විසින් විනාශනොකළහැකි විහාරයක් ගොඩනැගුවානම් වන්නේය. නමුත් ඒ උගත් ස්වාමීන්වහන්සේ මට මෙපමණකින් වරද පමුණුවා නැවතී නැත. මෙසේ මගේ අදහස් ප්‍රකාශකිරීමෙහිද යම් කිසි බලාපොරොත්තුවක් ඇතිබව ඇඟවීමට උන්වහන්සේ

ප්‍රයත්න දරාතිබේ. එකම හෝ වෙනස්වූ හෝ රක්‍ෂාවන්
කරණ අයට පරිභව කිරීම අපරවේ මිනිසුන්අතර පවත්
නා සිරිතක්බව උන්වහන්සේ කියයි. එක වෙදරාල
කෙණෙක් අනිත් වෙදරාලගේ වරද කීම, එක වෙලෙන්
දෙක් තවත් වෙලෙන්දෙකුගේ බඩුවලට නිගරුකිරීම
යනාදිවශයෙනි, උන්වහන්සේ කියන්නාක්මෙන්ම මෙය
තුච්ඡ නින්දිත ක්‍රියාවකි. නමුත් එවැනි නින්දිත ක්‍රියාවක්
මිවිසින් කරණලදැයි ඇඟවීමටමෙන් උන්වහන්සේ තැත්
කරනිබේ. එබඳු වරදක් මට පැවරීම යුක්තිසඟගතවේද?
වෙන වෙලෙන්දෙකු ගැණ යමක් මම ප්‍රකාශ කෙළෙ
මිද? පාඨශාලාචාර්‍ය්‍යවරයෙකු වශයෙන් මා ශාස්ත්‍රය වෙළ
දම්කරන්නෙක් බවත් එම නිසා ධර්මය "වෙළ
දම්" කරණ භික්‍ෂූන්වහන්සේලාගේ "බඩුවාහිරා" වන
විහාර සෑදීම දන්දීම ආදියට නොත්‍රාතලා කථා
කරණ බවත් දක්වීමට උන්වහන්සේ උත්සාහ කරයි.
නමුත් උන්වහන්සේ වෙලෙන්දෙක්දකියාගේ මා අන්‍ය
යන්ගේ දේට අපහාසකරණ වෙලෙන්දෙකුට සමානකළ
යුතුදැකියාත් තමුන්නාන්සේගෙන් අසනු කැමැත්තෙමු.
මගේ අදහස් පිළිබඳ තමන්ගේ කල්පනා යහපත් ශිෂ්ට
ක්‍රමානුගතව දක්වනුවෙනුවට මෙසේ අයුතු දොස් පව
රන්වයාම ගැණ කනගාටුවෙමි. එය උන්වහන්සේගේ
උසස් තත්වයට නොබනේදැයි සැකකරමි. උන්වහන්
සේගේ ලියුම නිසා පමන්ටම දොස් පවරාගත්බව පෙණේ.
පාඨශාලා ඇතිකරලීම හා නඩත්තුකිරීම ආගමට අයත්
දෙයක් නොවනබව උන්වහන්සේ වැඩිදුරටත් කියයි. උන්
වහන්සේගේ කල්පනාවේ හැටියට එය කිසිසේත්ම ආග
මට සම්බන්ධනොවූ කටයුත්තකි. උගත් ස්වාමීන්වහන්
සේලා මෙබඳු අදහස් ප්‍රකාශකරද්දී බෞද්ධ පාඨශාලා
දැනට පවත්නා තත්වය ගැණ මම පුදුම නොවෙමි. නමුත්
කියයුත්තක් තිබේ. බණ ඇසීමට මිනිසුන් පන්සල්වලට
නොපැමිණීම ගැණ මුන්වහන්සේ කනගාටුවෙමින් සිටි·
විහාරාරාම ගැණ බෞද්ධයනගේ වැඩි සැලකිල්ලක් නැති
විමත බෞද්ධයන් විහාරස්ථානයන්ට නොයාමත් උන්වහන්
සේගේ ළබදයට කරුණුව පවතී. විහාරාරාම ගැණ වැඩි
සැලකිල්ලක් නැත්තෙ බණ ඇසීමට වැඩි පිරිසක්
නොපැමිණෙන්නේ මක්නිසාදැයි මම අසනු කැමැත්තෙමි,

මීට හේතුව සොයාගැනීම දුෂ්කර නොවේ. දැනට සිටින පරම්පරාවෙන් වැඩිදෙනා ඉගෙනීම ලැබුවේ එක්කෝ ආගමක් නූපන්වන නැතහොත් ක්‍රිස්තියානිදෘෂ්ටියට අයිති පාඨශාලාවල නිසයි. බෞද්ධ කුලචාරිත්‍ර ඔවුන්ට පුරුදු නැත. පල්ලියට යාම ඔවුන්ට වඩා රුචිවූ දෙයකි. ද්‍රනපතාස්යෙන් ඔවුන්ට අයිතිවූ ආගම ගැණ නින්දා කරන්ට එහි චාරිත්‍ර ගැණ හිනාවෙන්ට ඔවුන්ගේ ගුරුවරයෝ පුරුදුකළහ. බාලකාලයේදීම ඇතිවූ නොමනා නපුරු ආශ්‍රයන් නිසා ඔවුන්ගේ ආගම ශක්තිය හා යහපත් ගුණධර්ම අනාථීනවූහ.

නමුත් අපේ ඇතැම් ස්වාමීන්වහන්සේලාගේ මතය නම් බෞද්ධ පාඨශාලා සෑදීම ඒවා ආරක්ෂාකරගැනීම ආගමට අයිතිදේ නොවනබවයි. ඒ එසේවූවත් පල්ලිය සශ්‍රීකවීම හා පන්සල ක්‍රමයෙන් හිස්වීම උන්වහන්සේටත් ප්‍රත්‍යක්ෂවේගනයන බව පෙනේ. නමුත් තවත් පන්සල් ඕනෑලු දැනට තිබෙන විහාරවලින් කිසි ප්‍රයෝජන නොගන්න කල්හි තව තවත් ඇතිකරලීම එතරම් ප්‍රඥාගෝචර නොවන බව කීවායයි මට දෙස්නගා තිබේ. අපේ පාඨශාලා වුවමනා තරම් දියුණුවූවහොත් යහපත්ලෙස ආරක්ෂාකරණලැබුවහොත් ඊටමහජනයා ආධාරකළහොත්තවත් පන්සල්නොඅනුමාතවම අවශ්‍යවෙනවා ඇත. එපමණක්ද නොවේ. එවිට පන්සල් සාදවන්ටයයි කිසිකෙනෙක් මෙහෙයිමක් නොකලාට ඒවා බෞද්ධයන් සියකැමැත්තෙන්ම කරණවා ඇත. අපට දැනට තිබෙන යුතුකම නම් අපේ පන්සල් හොඳහැටි ආරක්ෂාකර ඒවා පිරිසිදුලෙස තබාගැනීමයි. ඊලඟට මතු හැදෙන බාලපරම්පරාව යහපත් බෞද්ධයන්වන පරිදි ඇතිකරගැනීමට විධිවිධාන සලසාගතයුතුයි. මේ සඳහා බෞද්ධ පාඨශාලා අත්‍යාවශ්‍යකමැයි. බෞද්ධ පාඨශාලා ඇතිකරලීම අපේ ප්‍රධාන යුතුකමවේ. ඒ යුතුකම් අපි සියලුදෙනාම ශක්තිපමණින් ඉටුකිරීමට තරයේ අධිෂ්ඨාන කරගතයුතුයි. උගත් ස්වාමීන්වහන්සේලා වැරදිමත ඇතිකරනොගෙන බෞද්ධ පාඨශාලාචාර්‍යවරයන් හා බෞද්ධ භික්ෂූන්වහන්සේලා ලක්දිව බුදුසසුන දියුණුකරගැනීම සඳහා සමඟිසම්පන්නව ක්‍රියාකළයුතුබව තේරුම්ගතහොත් එය ඉතාමැනවි. මාමුලින් ප්‍රකාශකළ දේ සවිස්තරකිරීම මෙතෙකින් අවසන්කරමි.

# Leisure Hours.

## විවේකකාලය.

---

### At the foot of the Pedro.

### පිදුරුතලාගල බෑවුමේදී.

පවර රදකුමර රාමා පොරණ දී නා
අදර බැඳි කුමරි සීතා සොයනමෙ නා
අසුර බලැති ලක්රද සහ යුදට ව නා
නුවර එලියෙ සරි දුටුවෙමි හදනුරි නා

සිසිර ගිරිමුදුනැ යුත් ඉහ කඳු පෙළි නා
පවුර ලෙසින වටකළ පුර රකිනමෙ නා
නිතර දියදහර වැගිරී ගලාය නා
මෙපුර සිරිය නොමදුටු ඇස් පලු කුම නා

පිදුරු තලාගලමුදුනෙන් වැහෙන න ද
මහරු දියදහර අසබඩ ගලෙක ඉ ද
විසුරු හඬ ඇසෙනකලපෙර කුමරිර ද
උතුරු සැමි පතා හැඬූ හඬමෙනි එස ද

### On Kandy.

### මහනුවර.

පවර කළු පිදුම් දලදා ඇදි පව ර
අදර අප රදුන් කැණු වැව දිලි නිත ර
එවර රජදහම් තෙදබල පැවති ස ර
සතිර හදපෙම්න් බැලුවෙමි මහනුව ර

### On Kaluganga.

### කළුගඟ.

පරදන සුදබලය කඳුවඩදී බි න්ද
පෙරදීන සිගලබලසෙන් පහසය වි න්ද
සුසැදුන තම ඉවුරු පුරයට නම බැ න්ද
නෙණඑන රුවන් කළුගඟ දුටුවෙමී න න්ද

P. P. E. S.

24. 9. 1920.

# APPAMADO AMATAPADAN.

## අප්පමාදො අමතපදං.

අප තථාගතයන්වහන්සේගේ ශ්‍රීමුඛදෙශනාධර්ම පාඨයක්වූ–

"අප්පමාදො අමතපදං
පමාදො මච්චුනො පදං
අප්පමත්තා න මීයන්ති
යෙ පමත්තා යථා මතා"

යන මේ ගාථාවේ ප්‍රථම පාදය ආනන්ද ශාස්ත්‍රශාලාවේ ආදර්ශපාඨය ලෙස ව්‍යවහාර කරණු ලැබේ. මේ ගාථාපාඨයෙන් බුදුරජානන්වහන්සේ කුමක් අදහස් කළසේක්ද යනු දැනගැණීම අපේ යුතුකමකි.

මේ ගාථාවේ භාවය මෙසේයි. "අප්‍රමාදය හෙවත් කුශලධර්මයන්හි පමානොවීම අමෘතයට හෙවත් නිර්වාණ ලැබීමට කරුණුවේ. කුශලධර්මයන්හි ප්‍රමාදය මරණයට කාරණයකි (හෙතුවකි). අප්‍රමාදීවූ සත්වයෝ (අමෘතයට පැමිණෙන බැවින්) නොමැරෙත්. ප්‍රමාදීවූ යම් කෙනෙක් වෙත්ද, ඔව්හු මළවුන්හා සමානවෙති.

අප්‍රමාදභාවයනම් කටයුතු නොකටයුතුදෑහි හේතු ප්‍රත්‍යය ධර්ම පිරිදී සිහියඑළවා ක්‍රියාවෙහි යෙදීමවේ. එය සියළුම කුසල කරණයෙහිද මෙලෝපරලෝ දෙක්හි සුගතිගමනයෙහිද ආත්මාර්ථ පරාර්ථ සාධනයෙහිද මූලාධාරවේ.

ප්‍රමාදභාවයනම් කටයුතු නොකටයුතුදේ ගැණ සිහිය නොඑළවා කටයුතු කිරීමවේ. මෙයාකාරයෙන් කුසල ක්‍රියාවන්හි ප්‍රමාදවීමෙන් සසර සැරි සැරීම ක්‍රමක්‍රමයෙන් දිඝීවන්නේය මනුෂ්‍යයාගේ ලෞකික දියුණුවටද බාධා පැමිණෙන්නාහ.

ප්‍රමාදනුවූ සත්වයෝ මියනොයන්නාහ යනුවෙන් ඒ සත්වයන් විසින් නොපමාවකරණලද සුචරිත ධර්ම හේතුවෙන් සසරදුකින්මිදී අනන්තයෙහි (ඔව්හු) නිර්වාණය ලබන නෝයනු අදහස් කරනුලැබේ. එහෙයින් සැපත් සත්වයෝ මැරුණාහුද ජීවත්වන්නාහුවෙති.

ප්‍රමාදවූවෝ ජීවත්වන්නාහුද මළවුන්වැනියහ. මක්නිසාද, දන්දීම්, සිල්රැකීම්, භාවනාකිරීම්, බණඇසීම් යනාදී පුණ්‍යකර්මයන් ඔවුන්ගේ චිත්තසන්තානයන්හි නොමැති නිසාය. කුශලධර්මයන් කෙරෙහි නිතරම සිත යෙදවීම, කඩිසරබව, බුද්ධිමත් භාවය, අධිෂ්ඨානය, ක්ෂාන්තිවාදී භාවය යනාදිය අප්‍රමාදයෙහි ලක්ෂණයි.

අප්‍රමාදයෙහි යෙදීම දෙයාකාරයකින් කටයුතුවේ. එනම් මෙලොව දැහැමින් ජීවත්වීම සඳහා ධනසැපයීමෙහිද පරලොව සැප සඳහා දානශීලාදී කුශලධර්ම කිරීමෙහිද නොපමාව තත්පරවීමයි. ඉහත දැක්වූ ගාථාපාඨයෙහි අදහස සංක්ෂේපයෙන් මෙතෙකින් දක්වා මනුෂ්‍යජීවිතය සම්බන්ධ අප්‍රමාදභාවය භජනයකිරීම ගැන මදක් සඳහන් කරමු.

මනුෂ්‍යයාගේ ජීවිතයබාල, තරුණ, මහලුයකියා තුන් අවස්ථාවකට බෙදාලැබේ. මෙයින් බාලකාලය ශිල්පශාස්ත්‍රෝද්ග්‍රහණය කිරීමපිණිසද, තරුණ අවස්ථාව ධනය රැස්කිරීමපිණිසද, මහළුකාලය තපෝභාවනාවෙන් කුසල් රැස්කිරීමපිණිසද යෙදියයුතුයි.

බාලකාලයවනාහි ශිල්පශාස්ත්‍රෝද්ග්‍රහණයෙහි තත්පරවන අවස්ථාවවේ. යමෙක් මේ කාලයේදී නිසියාකාර ශිල්පශාස්ත්‍ර නූගත්තේනම් හෙතෙම තරුණ අවස්ථාවෙහිදී ලැබියයුතු ධනසම්පත් නොලැබ අවාසනාවන්තයෙක් වෙනවා පමණක්නොව පරලොව සැපපිණිස කුසලධර්මයන් කිරීමටද ප්‍රමාදවන්නේය. තවද හෙතෙම මහළුකාලයේදී තපෝභාවනාවෙන් කුසල ක්‍රියාවන්හි තත්පරවීමටද ප්‍රමාදවීමෙන් අන්තයෙහි මියගොස් සතර අපායෙන් එකක නැවතඋපදී. එමනිසා "අප්පමාදො අමතපදං,, යනමේ අප ශාස්ත්‍රශාලාවේ ආදර්ශපාඨයවූ සර්වඥ දේශනාව නිතරම සිහියේ තබාගෙන ප්‍රමාදභාවය නමැති මරුවාගේ වශයෙන් වෙන්වීමට උත්සාහදැරිය යුතුයි. මක්නිසාද මාරයා කොයිවේලේ පැමිණේදැයි නොදන්නා හෙයිනි.

W. M. H. de Mel.

*Junior Form.*

# The Sinhalese Flag.

## සිංහල කොඩිය

---

ජ ය රු ස සු ර ද කළ විසුතර ලක්ර ජ ය
පි ය ලෙ ස ප ර ද මින් කුමරිඳු නම වි ජ ය
සි ය ගො ස වි හි ද කර තැගු සිංහලු ද ජ ය
පි ය ඇ ස පැහැද බල සිහලුන් ගුණ දී ජ ය

ය සි න තෙද බෙරලන දසදෙස ගිගුම් කො ට
නොමි න රුදු රිපු න වනසා දෙමින් බැ ට
දි ලු න නද ව ඩ න සිංහලු දද මෙ වි ට
බැ ති න ස ද බ ලු න මොහොතක් සමර කො ට

ව ඩ මි න බුදුදහම් සහවෙත් බැති ද ර ය
සොබ ම න වෙහෙරදම් හල් කළ මනහ ර ය
එපා රන අපමුතුන් දද සිඟිකාර ක ර ය
කෙලෙ සින අදඉදින් නෙමු මෙවිලස තී ර ය

දත් සත මගැඟි සිව්සැට ඇ කලා සැ ම
ලක්සත සිතැඟි කලො පෙරබිය නොව කිසි ම
ලත් තම ලෙසන පැවතෙන සිහලුනි වා ම
සිත් ගනු එසින් දුලුවනු සිහල දද ර ම

න ද න දුකුම් පුතු වැව් ඇලද පොකුණු ද
එ මෙ න නොයිම් ඇල්කෙත් සසිරිකළ න ද
පො ර ණ දනන් ඉතිහස බලමින් පැහැ ද
නො සි න සැනින් නැගිටිව් සිහලුනි යළි ද

R. P. JAYAWARDANA,
*Lower IV. B.*

# "IT IS MY NATURE."

# "ඒක මගේ සිරිත."

ඩී. සී. විජයසිංහ මහත්මයා විසින් ලියනලදී.

මේ මාතෘකාව බොහෝදෙනා නොයෙක්වර යහපත් අයහපත් සිරිත් නොසිරිත් හොඳ නරක ආදී එකිනෙකට විරුද්ධ කරුණුවලදී ඉදිරියේ තබන මාතෘකාවකි.

සෑම තැනදී සමානව පාවිච්චිකරණුලබන මේ වචනය ගැණ පරීක්ෂාකරබැලීම වටී. එබැවින් මේ සම්බන්ධ කරුණු ස්වල්පයක් හැමදෙනාටම තේරුම්ගතහැකි ලිහිල් වචනවලින් ප්‍රකාශකරමි.

"තුඹ රෝමනගරයට ගියකල රෝමන්කාරයෙකු මෙන් ක්‍රියාකටයුතුයි," යනු එක්තරා මහතෙක් මඞ්ගල ස්ථානයකදී ඉංග්‍රීසියෙන් කියනලද වචනයි. "තුත්තුකුඩි ගියත් මා බෞද්ධයෙක්බව මට මතකනැති නොවේ" යනු ඊට උත්තරදුන් මහතා විසින් කියනලද වචනයි. මේ වේලාවෙදී ඉංග්‍රීසි තූර්යනාදය මිහිරිව ඇසුණේය. සෑමදෙනම නොයෙක් කෑම්බීම ආදියෙන් ප්‍රීතිවී ඒ ඒ තැන පිළියෙලකරණලද අලඞ්කාර ආසනවල ප්‍රියකථා කරමින් සිටියාහුය. මෙසේ රැස්වූ හැමදෙනම යටකී මහතුන් දෙදෙනා පිරිවරාගත්හ. ඉක්බිති මද වේලාවකට පසු වැසින් වීදුරුවක් අතින්ගත් මහතෙක්, "මේ පානයකොට අද අප සමග ප්‍රීතිවීම කුමන වරදක්ද"යි බෞද්ධයාගෙන් ඇසීය. "මොනම කරුණක් නිසාවත් මත්පැන් පානය නොකිරීම මගේ යහපත් සිරිතකැ"යි හෙතෙමේ කීය. එවිට පළමුකී මහතා "ආගන්තුකව පැමිණි තමුන්නාන්සේ අප විසින් කරණුලබන සත්කාරය නොපිළිගෙණ ප්‍රතික්ෂේප කිරීම යහපත් සිරිතක් නොවේ"යයි කීයේය. සුරාපානය නොකැමැති බෞද්ධ මහතා සුරාමතින් මත්වූවන්ගේ ආශ්‍රය මාවැන්නෙකුට නුසුදුසු"යි සිතා ඉන් බැහැර ගියේය. මේ ප්‍රවෘත්තියෙන් යහපත් ගතිගුණ පුරුදුවූ ශිෂ්ටාචාර ජනතෙමේ කිසිවිටෙක ආදීනව සලකා අත්හරිනලද අයහපත යහපතක් මෙන් සිතා ඊට නොබැඳේ.

තමින් පමණක් බෞද්ධයන් හැටියට පෙණී සිටිනඇතම් ප්‍රධානීහුවා යම් යම් ලාමකදුෂ්ට අදහස් නිසා තමාගේ කුලසිරිත් ගුණධර්මාදිය අත්හැරදමා නොසිරිතට හා අයහපතට බැඳෙමින් "ඒක මගේ සිරිතැ"යි යන කාරණ රහිත දුෂ්ට මාතෘකාව ඉදිරියේ තබති. "ද්වෙ මෙ භික්ඛවෙ ධම්මා ලොකං පාලෙන්ති කතමෙ ද්වෙ හිරී ච ඔත්තප්පං ච" යනු බුද්ධ වචනයි. ලෝකය පාලණය කරණ ධර්ම දෙකක් වෙත්, එනම් හිරිඔත්තප්ප (ලජ්ජා භය) දෙකයි. මෙහි හිරිය නම් පාපයට ලජ්ජාවීමයි. හෙවත් නොසිරිත් දේ කිරීමට මැලිවීමයි. භයනම් පාපයට භයවීමයි. මෙක් යන ගුණධර්ම දෙක යමෙක් කෙරෙහි නොපිහිටියේනම් ඔහුට නොකළහැකි දුශ්චරිතයක් නම් නැත්තේය. සුරාපානය වූකලි ලජ්ජාභය නැතිවීමේ ප්‍රධාන හේතුවයි. යමෙක් ලජ්ජා භයරහිත නම් හෙතෙම තිරිසනෙකුට සමානයි. එබැවින් මිථ්‍යාගති ඇත්තෝ මඟුල් අවමඟුල් ආදි අවස්ථාවලපවා තිරිසන්ගති පුරුදුකර නොගණිත්.

"දිවියතත් බොරුවක් නොකියමි." "ඒක මගේ සිරිතය" යනු මහතුන්ගේ වචනයකි. එහෙයින් මොනම කරුණක් නිසාවත් බොරු නොකියයුතුයි. "සත්‍යමෙව ජයතෙ" සැමතන්හිම ඇත්තක්මම ජයගණී. නමුත් ඇතම්අය සැමතැන්හිම ඇත්ත පාවිච්චිකිරීම හොඳනැත යන පුහු මතයක් ගෙණහැරදක්වත්. ඒ මහතුන්ගේ සිරිතක් නොවේ. සත්‍යය ඉතා පුදුම බලයකි. සත්‍යබලයෙන් සප්‍රාණික දේ තබා අප්‍රාණික ද්‍රව්‍යවා යටත්කරගත හැක්කේය. එහෙයින් සැමවේලේම ඇත්තකීමට තීන්දු කරගතයුතුයි.

"මා හිතාපුදේ කවුරුවිරුද්ධවුවත් අත්නොහරිමි. ඒක මගේ සිරිතකි" යනු ස්ථිර අදහස් ඇත්තන්ගේ මාතෘකාවයි. එය යහපත් අයහපත් දෙක්හිම ඉදිරිපත් කරති. මෙහිදී තමා හිතාපුදේ යහපතක් නම් කවුරු විරුද්ධවුවත් කිරීම මහත්ගුණයකි අයහපතක් නම් එසේ කිරීම අශෝභන සිරිතකි. එහෙයින් ඒ මාතෘකාව පරීක්ෂාකිරීමෙන් හැකිබව පුද්ගලයන්ගේ යෙදියයුතුයි. යමක් කරන්ට පළමු සිතා

බැලීම වැනි. "අවිචින්ත්‍යකෘතං කර්ම පාශ්චාත්තාපාය වර්තතෙ" අපරීක්ෂාකාරීව කරනලද කර්මය පසුතැවිලි පිණිස වෙයි. එබැවින් හිතුදේ එලෙසම කිරීම සමහරවිට නරක සිරිතක්වේ.

"කෙරිත්තුවොත් හපෑනනවා, ඒක මගේ සිරිතකි, යනු එකට එකකරන්ට බලාපොරොත්තු දුෂ්ටචිත්තයන් ගේ මාතෘකාවයි. කාරුණුතතරිය කරණය යනු මීට නමකි. කලඑකට එකක් කරන්නට අවකාශසොයමින් වෛරබැඳීම මහතුන්ගේ සිරිතක්නොවේ. යමෙකුගෙන් පලිගැණීම පාපයන්ගේසිරිතකි. වෛරයට වෛරයකිරීම වෛරය සංසිඳීමේ උපාය නොවේ. වෙරින් වෛර දියුණු වෙනවාමිස කිසිකලක සන්සිඳීමට නොපෑමිණේ. වෛ රය සංසිඳවීමේ හා වෛරී ජනයාගෙන් ජයගැණීමේ එකම උපාය මෛත්‍රියයි. මෙකී තත්වය නොදන්නා ඇතැම් මුග්ධයෝ ඉතා සුළුවරදට කිපී දුර්වලයා විනාශකිරීමට ප්‍රයත්නකරති. ඒ මහත් පාපයකි.

බෞද්ධයින්ගේ සියලු ප්‍රතිපත්ති තිසරණ පංචශීලය මුල්කාරණයකොට පවතී. සරණශීලය සමාදන්වනවිට ඇතැම් නවීනසිරිත් ගරුකරණ තරුණයෝ තමනුත් එසේ නොකොට කෙනෙක් ප්‍රශ්නකලවිට ඒකත් මගේසිරිතකැයි අඥානකම හේතුකොටගෙණ මාතෘකාක රති. මෙසේ මේ "ඒක මගේසිරිත" යන මාතෘකාවගැණ පරීක්ෂාකාරීවෙමින් සිරිත් නොසිරිත් යුතු අයුතු හොඳ නොහොඳ පින් පව් දැන හැඳින හොඳසිරිත දියුණුකරන්නටත් නරකසිරිත ඉවතදමන්නටත් සියල්ලෝම උත්සාහ කෙරෙත්වා.

# The End.

Why fades the rose? Why flees the day to night?
Why dies the true, the beautiful, the just?
Why must the golden boys and golden girls
At their appointed hour return to dust?
Why? but because it is the needed pause
Perfection to the sweetest music lends.
And though hearts break and anguished tears are shed
Each thing is loved and cared because it ends.

G. F.

# *Allsteel*

**TRADE MARK.**



## *No Chance for Rats or Mice*

IT is logical to build office furniture of steel, because steel offers convenience, strength, durability and protection. The choice of progressive business concerns is

## *GF Allsteel*

**It is the complete line—filing systems, desks, tables, safes, shelving, counter heights and busses.**

***GF Allsteel* cannot burn—rats or mice cannot gnaw it, neither heating systems nor climate can affect it.**

**Let us give you more information about this Complete Line—*GF Allsteel*.**

*Sole Agents*:

# Brown & Co., Limited.

Colombo, Hatton and Nawalapitiya.



# "CENTAUR" CYCLES.

are the BE T VALUE on the market. We stock 4 Different Models in the following sizes:—17, 19, 21, 23, 25, and 27 inches.

**Prices** from **Rs. 180** to **Rs. 350 each.**

---

## CYCLE ACCESSORIES

We carry large stocks of Lucas Bells, Lucas Lamps, Brook's Saddle, Bluemell's Pumps, Perry's Clutches, and Chains etc. etc.,

---

## SPECIAL TERMS TO DEALERS.

---

# Colombo Stores Ltd.

'Phone 412. Wire "EMPORIUM"

P. O. Box 197.

